සියලු ම හිමිකම් ඇවිරිණි.

රහස්‍ය ලේඛනයකි.



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව

අ.පො.ස. (උ.පෙළ) විභාගය - 2022 (2023)

# 25 B - යුරෝපා ඉතිහාසය

## ලකුණු දීමේ පටිපාටිය



මෙය උත්තරපත්‍ර පරීක්ෂකවරුන්ගේ ප්‍රයෝජනය සඳහා සකස් කෙරිණි.
ප්‍රධාන/ සහකාර පරීක්ෂක රැස්වීමේ දී ඉදිරිපත්වන අදහස් අනුව මෙහි වෙනස්කම් කරනු ලැබේ.

අවසන් සංශෝධන ඇතුළත් කළ යුතුව ඇත.

# අ.පො.ස. (උ.පෙළ) විභාගය - 2022 (2023)

## 25 B - යුරෝපා ඉතිහාසය

## ලකුණු බෙදී යාමේ ආකාරය

I පත්‍රය  01 x 40 = 40

II පත්‍රය

| | | |
|---|---|---|
| අනිවාර්ය පළමු ප්‍රශ්නයට ලකුණු | = | 12 |
| සෙසු ප්‍රශ්න 3 කට 16 බැගින් | = | 48 |
| II පත්‍රය අවසාන ලකුණු | = | 60 |

අවසාන ලකුණු = 40 + 60 = 100

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2022 (2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தரப் பரீட்சை, 2022 (2023)
General Certificate of Education (Adv. Level) Examination, 2022 (2023)

යුරෝපා ඉතිහාසය II (I කොටස)
ஐரோப்பிய வரலாறு II (பகுதி I)
History of Europe II (Part I)

**25 B** **S** **II**

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

**යුරෝපා ඉතිහාසය - ග්‍රීක-රෝම අවධියේ සිට ක්‍රි.ව. 1989 දක්වා**

**විභාග අංකය:** ..........................................

උපදෙස්:
* මෙම ප්‍රශ්න පත්‍රය I හා II ලෙස කොටස් **දෙකකින්** සමන්විත වේ.
* **I කොටසෙහි 1- 40** දක්වා ප්‍රශ්න **සියල්ලටම මෙම පත්‍රයේ ම ලබා දී ඇති** උපදෙස් පරිදි පිළිතුරු සපයන්න.
* **I කොටසෙහි** නිවැරදි පිළිතුරක් සඳහා ලකුණු **එක බැගින් හිමි** වේ.
* කොටස් **දෙකට ම මුළු** කාලය **පැය තුනකි.** පිළිතුරු ලියා අවසන් වූ පසු **I කොටස, II කොටසේ** පිළිතුරු **පත්‍ර සමඟ අමුණා භාර දෙන්න.**

## I කොටස

* අංක **1** සිට **10** තෙක් එක් එක් ප්‍රශ්නය සඳහා නම් පහ බැගින් දී ඇත. ඒවා අතුරෙන් එකක් පමණක් කවර හෝ හේතුවක් නිසා අනෙක් නම් සමඟ නොගැළපේ. එම නොගැළපෙන නාම තුමක් දැ'යි හඳුනාගෙන එහි අංකය වරහන තුළ ලියන්න.

1. (1) පිරනීස් (2) ඇපලාචියන් (3) ඇල්ප්ස්
   (4) ඇපිනයින් (5) කොකේසස් (.........)

2. (1) රාජාණ්ඩුව (2) ප්‍රභූ තන්ත්‍රය (3) කතිපයාධිකාර පාලන තන්ත්‍රය
   (4) ප්‍රජාතන්ත්‍රවාදය (5) දුර්ජන තන්ත්‍රය (.........)

3. (1) ඇනක්සිමැන්ඩර් (2) සෝලොන් (3) පිසිස්ට්‍රාටස්
   (4) ක්ලිස්තිනීස් (5) පෙරික්ලීස් (.........)

4. (1) හෙරඩෝටස් (2) තුසිඩිඩීස් (3) පොම්පේ
   (4) ලිවි (5) ටැසිටස් (.........)

5. (1) හොරස් (2) සෙනෙකා (3) ඔවිඩ්
   (4) ටොලමි (5) ජුවෙනල් (.........)

6. (1) මසච්චියෝ (2) සැන්ඩ්‍රෝ බොටිචෙලි (3) ලෙනාඩෝ ඩා වින්චි
   (4) රෆායල් (5) විලියම් හාවේ (.........)

7. (1) වුල්සි (2) කලි (3) රිචලියු
   (4) මැසරින් (5) කෝල්බෙයාර් (.........)

8. (1) ජෝර්ජ් වොෂිංටන් (2) ජෝන් ඇඩම්ස් (3) තෝමස් ජෙෆර්සන්
   (4) විලියම් පිට් (5) ඇලෙක්සැන්ඩර් හැමිල්ටන් (.........)

9. (1) කැම්පො ෆෝර්මියෝ ගිවිසුම (2) ලුනෙවිල් ගිවිසුම (3) ඒමියන්ස් ගිවිසුම
(4) ටිල්සිට් ගිවිසුම (5) බ්‍රෙස්ට්-ලිටොව්ස්ක් ගිවිසුම (.........)

10. (1) ජාතීන්ගේ සංගමය
(2) බ්‍රිතාන්‍ය පොදු රාජ්‍ය මණ්ඩලය
(3) උතුරු අත්ලාන්තික් ගිවිසුම් සංවිධානය (NATO)
(4) වෝර්සෝ සම්මුතිය
(5) යුරෝපීය සංගමය (EU) (.........)

- අංක 11 සිට 15 තෙක් ප්‍රශ්නවල පද යුගල පහ බැගින් දී ඇත. ඒවා අතුරෙන් එක් යුගලයක පද එකිනෙකට නොගැළපේ. එම නොගැළපෙන යුගලය කුමක් දැ'යි හඳුනාගෙන, ඊට අදාළ අංකය, ඉදිරියේ ඇති වරහන තුළ ලියන්න.

11. (1) ඩාඩනල්ස් සමුද්‍ර සන්ධිය - මොරොක්කෝව සහ ස්පාඤ්ඤය
(2) ඉංග්‍රීසි ඕඩය - ප්‍රංශය සහ එංගලන්තය
(3) සූවස් ඇළ - රතු මුහුද සහ මධ්‍යධරණී මුහුද
(4) පැනමා ඇළ - අත්ලාන්තික් සාගරය සහ පැසිෆික් සාගරය
(5) කීල් ඇළ - උතුරු මුහුද සහ බෝල්ටික් මුහුද (.........)

12. (1) පයිතගරස් - ගණිතය
(2) සොක්‍රටීස් - දර්ශනය
(3) ප්ලේටෝ - ජීව විද්‍යාව
(4) ඇරිස්ටෝටල් - දේශපාලනය
(5) හිපොක්‍රටීස් - වෛද්‍ය විද්‍යාව (.........)

13. (1) වර්ජිල් - ඊනිඩ්
(2) ශාන්ත ඔගස්ටින් - දෙවියන්ගේ නගරය (City of God)
(3) ශාන්ත තෝමස් ඇක්වයිනාස් - සුම්මා තියොලොජිකා
(4) ඩාන්ටේ ඇලිගියරි - කුමාරයා (The Prince)
(5) ඉරාස්මස් - මූඪත්වයේ අගය වැනීම (Praise of Folly) (.........)

14. (1) එස්ටේට්ස් ජෙනරල් - ප්‍රංශය
(2) කෝර්ටීස් - ස්පාඤ්ඤය
(3) ඩූමා - රුසියාව
(4) රයිෂ්ටාග් - ජර්මනිය
(5) ලිත්වේනියෝඩ්ස්ටාගේ - නෙදර්ලන්තය (.........)

15. (1) ලිබරල්වාදය - තෝමස් හොබ්ස්
(2) රාජ්‍ය නිර්බාධවාදය - ඇඩම් ස්මිත්
(3) උපයෝගිතාවාදය - ජෙරමි බෙන්තම්
(4) සමාජවාදය - කාල් මාක්ස්
(5) ෆැසිස්ට්වාදය - බෙනිටෝ මුසෝලිනි (.........)

- අංක 16 සිට 20 තෙක් එක් එක් ප්‍රශ්නයෙහි නාම / ප්‍රකාශන / දින වකවානු සමූහයක් X සහ Y තීරුවල දී ඇත. Y තීරුවේ දී ඇති නාම / ප්‍රකාශන / දින වකවානු X තීරුවේ දී ඇති ඒවා සමඟ කිසියම් ආකාරයකට ගැළපේ. එහෙත් ඒවා දක්වා ඇත්තේ ගැළපෙන අනුපිළිවෙළට නොවේ. Y තීරුව, X තීරුව සමඟ ගැළපෙන අනුපිළිවෙළට සකස් කළ විට පහත ඇති සංයෝග පහෙන් එකක් නිවැරදි ය. නිවැරදි සංයෝගයට අයත් අංකය තෝරා වරහන තුළ ලියන්න.

| | X | | Y |
|---|---|---|---|
| 16. | (i) හෙරක්ලිටස් | A | "සියලු දේ මැනිය යුතු මිම්ම මිනිසා ය." |
| | (ii) ඩිමොක්‍රිටස් | B | "දාර්ශනිකයෝ රජවරුන් බවට පත්විය යුත්තාහ." |
| | (iii) ප්‍රොටගරස් | C | "මිනිසා ස්වභාවයෙන්ම දේශපාලන සත්ත්වයෙකි." |
| | (iv) ප්ලේටෝ | D | "එකම ගඟට දෙවරක් පා තැබිය නොහැකි ය." |
| | (v) ඇරිස්ටෝටල් | E | "යහපත යනු හුදෙක් වරදක් නොකර සිටීමම නොව වරදක් කිරීමට ඇලුම් නොකිරීමයි." |

(1) DCEAB (2) DCEBA (3) DEABC (4) EADCB (5) EDACB (.........)

17.

| | X | | Y |
|---|---|---|---|
| (i) | මැග්නා කාර්ටා (මහාධිකාර පත්‍රය) | A | දෙවන නිකලස් සාර් |
| (ii) | ප්‍රසිද්ධියේ මරණ දඬුවමට පත් කරන ලද එංගලන්තයේ රජතුමා | B | දහසයවන ලුවී |
| (iii) | එංගලන්තයේ පළමුවන අගමැති | C | පළමුවන චාල්ස් |
| (iv) | ප්‍රංශ විප්ලව සමයේ ගිලටිනයට ලක්කර මරණයට පත් කළ ප්‍රංශයේ රජතුමා | D | ජෝන් රජතුමා |
| (v) | බොල්ෂෙවික් විප්ලව සමයේ මරණයට පත් කරන ලද රුසියාවේ අධිරාජයා | E | රොබට් වෝල්පෝල් |

(1) DCEAB (2) DCEBA (3) DEABC (4) EADCB (5) EDACB (.........)

18.

| | X | | Y |
|---|---|---|---|
| (i) | "කුමරයා, සිවලා සහ සිංහයා අනුකරණය කළ යුතු ය." | A | ජීන් ජැක් රූසෝ |
| (ii) | "අපි කළු බඩු සහ ක්‍රිස්තියානින් සොයා පෙරදිගට පැමිණියෙමු." | B | මෙටර්නික් |
| (iii) | "මිනිසා නිදහස්ව උපත ලබා ඇති නමුත් ඔහු සැමතැනම යදමින් බැඳ දමා ඇත." | C | මැසිනි |
| (iv) | "ඉතාලිය යනු හුදු භූගෝලීය ප්‍රකාශයක් පමණකි." | D | නිකොලෝ මකියාවෙලි |
| (v) | "ඉතාලියට තනිව සිය කටයුතු කරගත හැකි ය." | E | වස්කෝ ද ගාමා |

(1) DCEAB (2) DCEBA (3) DEABC (4) EADCB (5) EDACB (........)

19.

| | X | | Y |
|---|---|---|---|
| (i) | ජේම්ස් හාර්ග්‍රීව්ස් | A | ජල රාමුව |
| (ii) | රිචඩ් ආර්ක්රයිට් | B | දුම්රිය එන්ජිම |
| (iii) | සැමුවෙල් ක්‍රොම්ප්ටන් | C | වාෂ්ප එන්ජිම |
| (iv) | තෝමස් නිව්කොමන් | D | ස්පිනිං මියුල් |
| (v) | ජෝර්ජ් ස්ටීවන්සන් | E | ස්පිනිං ජෙනි |

(1) DCEAB (2) DCEBA (3) DEABC (4) EADCB (5) EDACB (.........)

20.

| | X | | Y |
|---|---|---|---|
| (i) | ජාත්‍යන්තර කම්කරු සංවිධානය(ILO) | A | වොෂිංටන් |
| (ii) | ආහාර හා කෘෂිකර්ම සංවිධානය (FAO) | B | නිව්යෝර්ක් |
| (iii) | එක්සත් ජාතීන්ගේ අධ්‍යාපනික, විද්‍යාත්මක හා සංස්කෘතික සංවිධානය (UNESCO) | C | රෝමය |
| (iv) | එක්සත් ජාතීන්ගේ ළමා අරමුදල (UNICEF) | D | ජිනීවා |
| (v) | ජාත්‍යන්තර මූල්‍ය අරමුදල (IMF) | E | පැරිස් |

(1) DCEAB (2) DCEBA (3) DEABC (4) EADCB (5) EDACB (.........)

- අංක 21 සිට 25 තෙක් සෑම ප්‍රශ්නයකටම එක් මාතෘකාවක් යටතේ කරුණු පහ බැගින් සපයා ඇත. එම කරුණු අතුරෙන් එකක් අදාළ මාතෘකාවට නොගැළපේ. එය තෝරා ඊට අදාළ අංකය ඉදිරියේ ඇති වරහන තුළ ලියන්න.

21. පුරාණ රෝමය

(1) රෝමය ලතින් පෞර රාජ්‍යයක් ලෙස ආරම්භ විය.
(2) ආරම්භයේදී රෝමයෙහි රාජාණ්ඩුවක් පැවතුණි.
(3) ක්‍රි.පූ. හයවන සියවස අවසානයේ රෝමය සමූහාණ්ඩුවක් බවට පත් විය.
(4) පළමුවන රෝම අධිරාජයා ජූලියස් සීසර් විය.
(5) මිලේච්ඡ ආක්‍රමණ හේතු කොට ගෙන බටහිර රෝම අධිරාජ්‍යය බිඳ වැටුණි. (.........)

22. **ඉස්ලාම් දහම**

(1) ඉස්ලාම් දහම ක්‍රි.ව. හත්වන සියවසේදී ආරම්භ විය.
(2) මහම්මද්නබිතුමා ඉස්ලාම් දහමේ ආරම්භක ශාස්තෘවරයා ය.
(3) මහම්මද්නබිතුමා ජෙරුසලමේ උපත ලැබී ය.
(4) කුරානය යනු ඉස්ලාම් දහම අඩංගු පූජනීය ග්‍රන්ථයයි.
(5) ඉස්ලාම් දහම ඒකදේවවාදී ආගමකි. (.........)

23. **දේශ ගවේෂණ**

(1) ආසියාවට පැමිණීම සඳහා සාගරික මාර්ගයක් සොයා ගැනීම දේශ ගවේෂණවල ප්‍රමුඛ අරමුණ විය.
(2) අයිබීරියානු අර්ධද්වීපයේ වැසියෝ දේශ ගවේෂණවල මුල්ම පියවර තැබූහ.
(3) නාවික හෙන්රි කුමරු යාත්‍රික ගවේෂණවලට අනුග්‍රහ දැක්වී ය.
(4) 1488දී ක්‍රිස්ටෝෆර් කොලම්බස් අප්‍රිකානු මහද්වීපයේ දකුණු තුඩුවට යාත්‍රා කළේ ය.
(5) අමෙරිගෝ වෙස්පුචි, අමෙරිකානු භූමියට ගොඩබට පළමුවන යුරෝපීය ජාතිකයා ලෙස සලකනු ලැබේ. (.........)

24. **ජර්මනිය එක්සත් කිරීම**

(1) දහනවවන සියවසේ ආරම්භය තෙක්ම ජර්මනිය, රාජ්‍ය කොටස් 350කට අධික සංඛ්‍යාවකට බෙදී පැවතුණි.
(2) වියනා සම්මුතිය මගින් ජර්මනිය, රාජ්‍ය 39කින් යුත් සංයුක්තයක් ලෙස සංවිධානය කරන ලදී.
(3) මෙටර්නික් ජර්මනිය එක්සත් කිරීමේ ව්‍යාපාරයට අනුග්‍රහ දැක්වී ය.
(4) ප්‍රසියාවේ නායකත්වය යටතේ ජර්මනිය එක්සත් කරන ලදී.
(5) පළමුවන විලියම් 1871දී එක්සත් ජර්මනියේ කයිසර්වරයා බවට පත් විය. (.........)

25. **එක්සත් ජාතීන්ගේ සංවිධානය**

(1) එක්සත් ජාතීන්ගේ සංවිධානය 1945දී පිහිටුවනු ලැබී ය.
(2) එක්සත් ජාතීන්ගේ සංවිධානයේ ස්ථාවර මූලස්ථානය ජිනීවාහි පිහිටා ඇත.
(3) එක්සත් ජාතීන්ගේ සංවිධානයේ ප්‍රධාන අරමුණ ලෝක සාමය සුරැකීමයි.
(4) එක්සත් ජාතීන්ගේ සංවිධානයේ ප්‍රධාන තිල ආයතනවලින් එකක් නම් මහා මණ්ඩලයයි.
(5) ට්‍රිග්වි ලී එක්සත් ජාතීන්ගේ සංවිධානයේ පළමුවන මහ ලේකම්වරයා විය. (.........)

- අංක 26 සිට 30 තෙක් එක් එක් ප්‍රශ්නයට දක්වා ඇති (A), (B), (C) හා (D) යන ප්‍රතිචාර හතර අතුරෙන් **එකක්** හෝ **කිහිපයක්** නිවැරදි ය. නිවැරදි ප්‍රතිචාරය හෝ ප්‍රතිචාර තෝරා,

(A) සහ (B) පමණක් නිවැරදි නම් ........................................ 1 ද
(A) සහ (C) පමණක් නිවැරදි නම් ........................................ 2 ද
(B) සහ (C) පමණක් නිවැරදි නම් ........................................ 3 ද
(C) සහ (D) පමණක් නිවැරදි නම් ........................................ 4 ද
වෙනත් ප්‍රතිචාර සංඛ්‍යාවක් හෝ සංයෝජනයක් හෝ නිවැරදි නම් ........ 5 ද වරහන තුළ ලියන්න.

| උපදෙස් සම්පිණ්ඩනය | | | | |
|---|---|---|---|---|
| 1 | 2 | 3 | 4 | 5 |
| (A) සහ (B) පමණක් නිවැරදි ය. | (A) සහ (C) පමණක් නිවැරදි ය. | (B) සහ (C) පමණක් නිවැරදි ය. | (C) සහ (D) පමණක් නිවැරදි ය. | **වෙනත් ප්‍රතිචාර** සංඛ්‍යාවක් හෝ සංයෝජනයක් හෝ නිවැරදි ය. |

26. බ්‍රිතාන්‍ය පාර්ලිමේන්තුව සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය/ප්‍රකාශ නිවැරදි වේ ද?

(A) බ්‍රිතාන්‍යයේ හා උතුරු අයර්ලන්තයේ ඇති උත්තරීතර ව්‍යවස්ථාදායකය පාර්ලිමේන්තුවයි.
(B) බ්‍රිතාන්‍ය පාර්ලිමේන්තුව රජතුමාගෙන් සහ මහජන මන්ත්‍රී මණ්ඩලය හා සාමි මන්ත්‍රී මණ්ඩලය යන මන්ත්‍රණ සභා දෙකෙන් සමන්විත වේ.
(C) බ්‍රිතාන්‍ය පාර්ලිමේන්තුව පහළොස්වන සියවසේදී උපදේශක සභාවක් ලෙස ආරම්භ විය.
(D) පළමුවන ජේම්ස් පාර්ලිමේන්තුව සම්බන්ධයෙන් අතිශය හිතෛෂී ප්‍රතිපත්තියක් අනුගමනය කළේ ය. (.........)

**27.** පුනරුදය සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය/ප්‍රකාශ නිවැරදි වේ ද?
- (A) පුනරුදය ජර්මනියේ ආරම්භ විය.
- (B) පුනරුද සමයේදී බුද්ධිමය හා කලාත්මක වශයෙන් විශාල පිබිදීමක් දක්නට ලැබුණි.
- (C) පුනරුද සමයේදී මානවවාදය ඉදිරියට පැමිණියේ ය.
- (D) ජෝන් කැල්වින් පුනරුදයෙන් විශාල වශයෙන් බලපෑම් ලැබූ යැයි සැලකේ. (.........)

**28.** වෙස්ට්ෆේලියා සාම ගිවිසුම සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය/ප්‍රකාශ නිවැරදි වේ ද?
- (A) වෙස්ට්ෆේලියා සාම ගිවිසුම තිස් අවුරුදු යුද්ධය සමාප්තියට ගෙන ආවේ ය.
- (B) වෙස්ට්ෆේලියා සාම ගිවිසුම යුරෝපයේ ආගමික යුද්ධ අවසන් කළේ ය.
- (C) ජර්මන් රාජ්‍යවල පූර්ණ ස්වෛරීභාවය පිළිගනු ලැබී ය.
- (D) ශුද්ධ රෝම අධිරාජ්‍යය නාමික පැවැත්මකට පත් විය. (.........)

**29.** 1848 විප්ලව සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය/ප්‍රකාශ නිවැරදි වේ ද?
- (A) 1848 විප්ලව ආඥා තන්ත්‍රයට එරෙහිව මතු විය.
- (B) 1848 විප්ලව මුලින්ම ප්‍රංශයේ ඇති විය.
- (C) 1848 විප්ලව බුද්ධිමතුන්ගේ විප්ලව යනුවෙන් හඳුන්වනු ලැබේ.
- (D) 1848 විප්ලව සමයේදී නැපෝලියන් බොනපාට් ප්‍රංශ අධිරාජයා බවට පත් විය. (.........)

**30.** දෙවන ලෝක යුද්ධය සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය/ප්‍රකාශ නිවැරදි වේ ද?
- (A) දෙවන ලෝක යුද්ධය අක්ෂ බලවතුන් හා මිත්‍ර පාක්ෂිකයින් අතර සිදු විය.
- (B) හිට්ලර්ගේ විදේශ ප්‍රතිපත්තිය දෙවන ලෝක යුද්ධය ඇති වීමට තුඩු දුන් ප්‍රධාන හේතුවක් විය.
- (C) 1945 මැයි මස ජර්මනිය යටත් විය.
- (D) හිරෝෂිමා හා නාගසාකි වෙත පරමාණු බෝම්බ හෙළීමෙන් පසු 1945 අගෝස්තු මස ජපානය යටත් විය. (.........)

- අංක **31** සිට **35** තෙක් ප්‍රශ්නවලට නිවැරදි පිළිතුර තෝරා, එහි අංකය ඉදිරියේ ඇති වරහන තුළ ලියන්න.

**31.** ඇරිස්ටෝටල් විසින් ඇතන්ස්හි පවත්වාගෙන ගිය පාසල කුමක් ද?

(1) ඇක්‍රොපොලිස් (2) පාර්තිනොන් (3) ඇකඩෙමි
(4) ලයිසියම් (5) කොලෝසියම් (.........)

**32.** ගුරුත්වාකර්ෂණය පිළිබඳ නියමය ඉදිරිපත් කළේ කවුද?
- (1) නිකොලස් කොපර්නිකස්
- (2) ටයිකෝ බ්‍රාහේ
- (3) ජොහැන්නස් කෙප්ලර්
- (4) ගැලීලියෝ ගැලීලි
- (5) අයිසැක් නිව්ටන් (.........)

**33.** සෑම ජර්මන් කුමාරයෙකුම සිය රටවැසියන්ගේ ආගම තීරණය කළ යුතු යැයි, නියම කළ සාම ගිවිසුම කුමක් ද?

(1) ලෝඩි සාම ගිවිසුම (2) ඔග්ස්බර්ග් සාම ගිවිසුම (3) ප්‍රාග් සාම ගිවිසුම
(4) ෆ්‍රෙස්බර්ග් සාම ගිවිසුම (5) පැරිස් සාම ගිවිසුම (.........)

**34.** සොල්වරයින් නම් තීරුබදු සංගමය 1834දී පිහිටුවන ලද්දේ කුමන රටේ ද?

(1) ප්‍රශියාව (2) ප්‍රංශය (3) ඔස්ට්‍රියාව
(4) රුසියාව (5) නෙදර්ලන්තය (.........)

**35.** ප්‍රංශයේ පස්වන සමූහාණ්ඩුවේ ප්‍රථම ජනාධිපතිවරයා කවුද?

(1) කොන්රාඩ් ඇඩිනුවර් (2) චාල්ස් ඩි ගෝල් (3) ජෝර්ජ් පොම්පිඩු
(4) ප්‍රාන්සුවා මිතරොන් (5) හෙල්මට් කෝල් (.........)

- අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවලට අදාළව ප්‍රකාශ දෙක බැගින් දී ඇත. එක් එක් ප්‍රශ්නය සම්බන්ධයෙන් දී ඇති ප්‍රකාශ යුගලයට හොඳින්ම ගැළපෙනුයේ පහත වගුවෙහි දැක්වෙන **1, 2, 3, 4** සහ **5** යන කවර ප්‍රකාශ යුගලය දැ'යි තෝරා එම අදාළ අංකය වරහන් තුළ ලියන්න.

| | පළමුවන ප්‍රකාශය | දෙවන ප්‍රකාශය |
|---|---|---|
| 1 | නිවැරදි ය. | වැරදි ය. |
| 2 | නිවැරදි ය. | නිවැරදි ය. |
| 3 | වැරදි ය. | වැරදි ය. |
| 4 | වැරදි ය. | නිවැරදි ය. |
| 5 | නිවැරදි ය. | නිවැරදි වන අතර **පළමුවැන්න** මැනවින් පහදා දෙයි. |

| | පළමුවන ප්‍රකාශය | දෙවන ප්‍රකාශය | |
|---|---|---|---|
| **36.** | "සදාචාරය වූ කලී දැනුමයි" යන න්‍යාය පැහැදිලි කරමින් සොක්‍රටීස්, 'ජනරජය' (The Republic) නම් ඔහුගේ සුප්‍රසිද්ධ දේශපාලන ග්‍රන්ථය රචනා කළේ ය. | මැසිඩෝනියාවේ පිලිප්ගේ පුත්‍රයා වූ ඇලෙක්සැන්ඩර්ගේ ගුරුවරයා ලෙස ඇරිස්ටෝටල් සේවය කළේ ය. | (..........) |
| **37.** | සියලුම හියුගනොට්වරුන්ට ආගමික නිදහස සහ දේශපාලන අයිතිවාසිකම් සහතික කළ නැන්ට්ස් ආඥාව ප්‍රංශයේ ආගමික යුද්ධ අවසන් කළේ ය. | හියුගනොට්වරුන් සම්බන්ධයෙන් රිචලියු ඇබී සහනශීලි ප්‍රතිපත්තියක් අනුගමනය කළේ ය. | (..........) |
| **38.** | 1848 විප්ලවය මෙටර්නික්ට ඔස්ට්‍රියාව තුළ සිය බලය යළි පිහිටුවා ගැනීමට මඟ පෑදී ය. | සත් සති යුද්ධය ඔස්ට්‍රියාවට ජයග්‍රහණය ලබාදෙමින් අවසන් විය. | (..........) |
| **39.** | පළමුවන ලෝක යුද්ධය අවසන් වීමෙන් පසු ජර්මනියේ ක්‍රියාත්මක කරන ලද වයිමාර් ආණ්ඩුක්‍රමයේ මූලික ලක්ෂණයක් වූයේ ප්‍රජාතන්ත්‍රවාදය කෙරෙහි තිබූ අවධාරණයයි. | ඡන්දයෙන් තෝරාගත් ජනාධිපතිවරයෙකු හා මන්ත්‍රී මණ්ඩල දෙකකින් යුත් ව්‍යවස්ථාදායකයක් ප්‍රධාන කොටගත් සමූහාණ්ඩුවක් ප්‍රකාශයට පත් කළ වයිමාර් ආණ්ඩුක්‍රමයෙන් සර්වජන ඡන්දයට සහ කැබිනට් ආණ්ඩු ක්‍රමයකට ප්‍රතිපාදන සකසා තිබුණි. | (..........) |
| **40.** | 1929 ලැටරන් ගිවිසුම මඟින් ඉතාලිය, වතිකානුව ස්වෛරී රාජ්‍යයක් ලෙසත්, කතෝලික ආගම නිල රාජ්‍යාගම ලෙසත් පිළිගත්තේ ය. | මිහායල් ගොර්බචොෆ්ගේ ග්ලස්නොස්ට් (විවෘතභාවය) හා පෙරෙස්ත්‍රොයිකා (ආර්ථික ප්‍රතිව්‍යුහකරණය) නම් ප්‍රතිපත්ති, 1980 දශකයේ සෝවියට් සමාජයේ ප්‍රධාන වෙනස්වීම් ඇතිවීමට තුඩු දුන්නේ ය. | (..........) |

* *

# ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
# இலங்கைப் பரீட்சைத் திணைக்களம்

## අ.පො.ස. (උ.පෙළ) විභාගය/ க.பொ.த. (உயர் தர)ப் பரீட்சை - 2022(2023)

විෂයය අංකය / பாட இலக்கம்: **25 B**

විෂයය / பாடம்: **යුරෝපා ඉතිහාසය**

## ලකුණු දීමේ පටිපාටිය / புள்ளி வழங்கும் திட்டம்
### I පත්‍රය / பத்திரம் I

| ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. | ප්‍රශ්න අංකය வினா இல. | පිළිතුරු අංකය விடை இல. |
|---|---|---|---|---|---|---|---|
| 01. | 2 | 11. | 1 | 21. | 4 | 31. | 4 |
| 02. | 5 | 12. | 3 | 22. | 3 | 32. | 5 |
| 03. | 1 | 13. | 4 | 23. | 4 | 33. | 2 |
| 04. | 3 | 14. | 5 | 24. | 3 | 34. | 1 |
| 05. | 4 | 15. | 1 | 25. | 2 | 35. | 2 |
| 06. | 5 | 16. | 3 | 26. | 1 | 36. | 4 |
| 07. | 1 | 17. | 2 | 27. | 3 | 37. | 1 |
| 08. | 4 | 18. | 3 | 28. | 5 | 38. | 3 |
| 09. | 5 | 19. | 4 | 29. | 3/5 | 39. | 5 |
| 10. | 1 | 20. | 2 | 30. | 5 | 40. | 2 |

✪ විශේෂ උපදෙස් / விசேட அறிவுறுத்தல் :

එක් පිළිතුරකට / ஒரு சரியான விடைக்கு ලකුණු 01 බැගින් / புள்ளி வீதம்

මුළු ලකුණු / மொத்தப் புள்ளிகள் 1 × 40 = 40

# අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය - 2022 (2023)

## ඉතිහාසය II (II කොටස)

**යුරෝපා ඉතිහාසය - ග්‍රීක-රෝම අවධියේ සිට ක්‍රි.ව. 1989 දක්වා**

*උපදෙස්:*
* පිළිතුරු සැපයිය යුතු **මුළු** ප්‍රශ්න සංඛ්‍යාව **හතරකි**.
* **II කොටස A, B හා C** ලෙස කොටස් **තුනකින්** සමන්විත වේ.
* **A කොටසේ** ප්‍රශ්නය අනිවාර්ය වේ.
* **B** හා **C** කොටස්වලින් එක් කොටසකින් අවම වශයෙන් **එක** ප්‍රශ්නයක්වත් තෝරා ගෙන **තවත්** ප්‍රශ්න **තුනකට** පිළිතුරු සපයන්න.

(**පළමුවන** ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා **යුරෝපයේ දළ සිතියමක් I කොටස** සමඟ සපයා ඇත.)

## A කොටස

1. ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් **සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න.**

| | | |
|---|---|---|
| (i) පිරනීස් | (ii) ඇඩ්‍රියාතික් මුහුද | (iii) එල්බ් ගඟ |
| (iv) ජිබ්‍රෝල්ටා සමුද්‍ර සන්ධිය | (v) පැරිසිය | (vi) ඔස්ට්‍රියාව |
| (vii) ශාන්ත පීටර්ස්බර්ග් | (viii) වොල්ගා ගඟ | (ix) සයිප්‍රස් |
| (x) ක්‍රිමියාව | (xi) මැන්චෙස්ටර් | (xii) කීල් ඇළ |

*(නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු 01 බැගින්)*



## B කොටස

(2) (i) ග්‍රීක පෞර රාජ්‍ය ක්‍රමයේ ප්‍රධාන ලක්ෂණ පරීක්ෂා කරන්න.

(ii) සාහිත්‍යය හා විද්‍යාව යන ක්ෂේත්‍රවල පුරාණ ග්‍රීකයන්ගේ කාර්ය සංසිද්ධිය සැකෙවින් සමාලෝචනය කරන්න.

(i) ග්‍රීක පෞර රාජ්‍ය ක්‍රමයේ ප්‍රධාන ලක්ෂණ

- ❖ නගර කේන්ද්‍ර කරගත් ස්වාධීන රාජ්‍ය ලෙස පැවතීම (නිදසුන්: ඇතන්ස්, ස්පාටා, කොරින්ත්, තීබ්ස්, ආගෝස්, සමෝස්, මිලේටස්, ඩිලොස්, මෙගාරා).
- ❖ ප්‍රමාණය අතින් තරමක් කුඩාවීම.
- ❖ සාපේක්ෂ වශයෙන් අඩු ජනගහණයකින් යුතු වීම.
- ❖ සමාජය කොටස් ප්‍රධාන කොටස් තුනකින් සංයුක්ත වීම - පුරවැසියන්, විදේශිකයන් හා වහලුන් (ඇතැම් තැනෙක ස්ත්‍රීන් වෙනම කණ්ඩායමක් වශයෙන් දක්වා ඇත.).
- ❖ පුරයේ සියලු ආකාරයේ වරප්‍රසාද පුරවැසියන් විසින් භුක්ති විඳින ලද අතර වහලුන් ශ්‍රමිකයන් වීම.
- ❖ ආණ්ඩුක්‍රම විවිධත්වය - රාජාණ්ඩු, ප්‍රභූතන්ත්‍ර, කතිපයාධිපති, ප්‍රජාපීඩක හා ප්‍රජාතන්ත්‍රවාදී පාලන තන්ත්‍ර.
- ❖ කෘෂිකර්මාන්තය හා වෙළාදාම ප්‍රධාන ආර්ථික ක්‍රියාකාරකම් වීම.

(ii) සාහිත්‍යය හා විද්‍යාව යන ක්ෂේත්‍රවල පුරාණ ග්‍රීකයන්ගේ කාර්ය සංසිද්ධිය

<u>සාහිත්‍යය</u>

- ❖ වීර කාව්‍යය (මහාකාව්‍ය) - හෝමර්ගේ ඉලියඩ් හා ඔඩිසි
- ❖ ගී කාව්‍ය - පින්ඩාර් සහ කිවිඳියක වූ සැෆෝගේ කවි
- ❖ නාට්‍ය - 1) සුඛාන්ත/ප්‍රහසන
  (ඇරිස්ටොෆනිස්ගේ The Frogs සහ The Clouds)
  2) ශෝකාන්ත
  (ඊස්කිලස්ගේ The Persians, The Oresteia/ සොෆොක්ලීස්ගේ Oedipus Rex, ඇන්ටිගනී, ඉලෙක්ට්‍රා/යුරිපිඩීස්ගේ The Trojan Women, Medea, ඇල්සෙස්ටිස්)
- ❖ ඉතිහාස ග්‍රන්ථ - හෙරඩෝටස්ගේ The Histories, පර්සියන් යුද්ධ
  තුසිඩිඩීස්ගේ පෙලපොනිසියානු යුද්ධ
- ❖ උපමා කෘති - හෙසියඩ්ගේ වැඩ සහ දවස් / ඊසොප්ගේ උපමා කතා

<u>විද්‍යාව</u>

- ❖ මුල්ම විද්‍යාඥයෝ - මිලේටස් විද්‍යාඥයෝ/ගුරුකුලය (Miletus School)
  - ▪ පැවැත්ම සෑදී ඇති ප්‍රධාන මූලද්‍රව්‍යය පිළිබඳ කතිකාවක් ගොඩනැගීම.
    - ✓ ඇනෙක්සිමැන්ඩර් (ක්‍රි.පූ. 611-547) - ජලය ප්‍රධාන බව
    - ✓ ඇනෙක්සිමීනස් - වාතය ප්‍රධාන බව
  - ▪ තේලීස් (ක්‍රි.පූ. 636-546)-විශ්වයේ ආරම්භය පිළිබඳ අදහස් දැක්වීමට අමතරව තාරකා විද්‍යාව, භූගෝලවිද්‍යාව හා ජ්‍යාමිතිය කෙරෙහි අවධානය යොමු කළේය.

- ❖ හිපොක්‍රටීස් (ක්‍රි.පූ. 460-377)-ලෙඩ රෝග ස්වභාවික සිද්ධි බව පැහැදිලි කළ මොහු වෛද්‍ය විද්‍යාවේ පියා වශයෙන් සැලකේ.
- ❖ පයිතගරස්-පයිතගරස් ප්‍රමේය, ජ්‍යාමිතික ක්‍රමය
- ❖ ඩිමොක්‍රිටස් (ක්‍රි.පූ. 460) - පරමාණුව පිළිබඳ අදහස
- ❖ ආකිමිඩීස් (ක්‍රි.පූ. 289-212) - ජලෝත්පීඩන න්‍යාය
- ❖ ටොලමි - භූ විද්‍යාඥයෙකු වන මොහු ලොව මුල්ම ලෝක සිතියම සම්පාදනය කළාසේ සැලකේ.
- ❖ එපියස් හෙරක්ලීටස් - සනීභවනය තුළින් දේවල් වෙනස් වන බව
- ❖ ඇනෙක්සිගෝරස් (ක්‍රි.පූ. 503-428) - ජ්‍යාමිතිඥයෙකි

***(ලකුණු 16 යි)***

**(3) (i) ජාතික රාජ්‍යයක ප්‍රධාන ලක්ෂණ සැකෙවින් දක්වන්න.**

**(ii) පහළොස්වන හා දහසයවන සියවස්වල එක්කෝ ස්පාඤ්ඤයේ නැතහොත් එංගලන්තයේ ජාතික රාජ්‍යය වර්ධනය වූ අයුරු පරීක්ෂා කරන්න.**

**(i) ජාතික රාජ්‍යයක ප්‍රධාන ලක්ෂණ**

- ❖ යුරෝපය මධ්‍යතන යුගයෙන් නූතන යුගයට පර්වර්තනය වීමේදී දේශපාලන ක්ෂේත්‍රයේ හටගත් වැදගත්ම පරිවර්තනයකි.
- ❖ එක් ජාතියකට අයත්, පොදු භාෂාවක් කතා කරන, පොදු සංස්කෘතියකට උරුමකම් කියන ජන කණ්ඩායමක් ජීවත් වන, නිශ්චිත දේශසීමාවකින් යුතු භූගෝලීය ඒකකයක් වීම.
- ❖ ජාතික එක්සත්භාවයක් දක්නට ලැබීම.
- ❖ බලය සංකේන්ද්‍රගත වූ ශක්තිමත් මධ්‍යම පාලනය - නව රාජාණ්ඩු.
- ❖ ස්ථාවර හමුදාවක් පැවතීම.
- ❖ සිවිල් හා හමුදා පරිපාලන කටයුතු සඳහා යොදවන ලද පුළුල් නිලධාරිතන්ත්‍රයක් පැවතීම.
- ❖ මධ්‍යම පාංතිකයන් පරිපාලන කටයුතුවලට සම්බන්ධ කරගැනීම.
- ❖ මධ්‍යතන යුගයේ බලපැවති රදළ බලය දුර්වලවීම.
- ❖ ඒකීය නීති, අධිකරණ හා පරිපාලන ක්‍රම දක්නට ලැබීම.
- ❖ දේශගවේෂණ සඳහා රාජ්‍ය අනුග්‍රහය ලබාදීම.
- ❖ යටත්විජිත පිහිටුවා ගැනීම.

***(ලකුණු 06 යි)***

**(ii) පහළොස්වන හා දහසයවන සියවස්වල එක්කෝ ස්පාඤ්ඤයේ නැතහොත් එංගලන්තයේ ජාතික රාජ්‍යය වර්ධනය වූ අයුරු**

ස්පාඤ්ඤය

❖ ෆර්ඩිනන්ඩ් හා ඉසබෙලාගේ පාලන සමය

- 1469 - දෙදෙනාගේ විවාහය හේතුකොටගෙන ඇරගන් හා කැස්ටිල් රාජ්‍ය එකතුවීම.
- 1491 - මුස්ලිම්වරුන් ග්‍රැනඩාවෙන් පලවාහැර එම ප්‍රදේශය ඈඳාගැනීම.
- 1512 - නවාරේ ඈඳාගැනීම.
- ශක්තිමත් යුධ හා නාවික හමුදා ඇතිකිරීම, වෙඩිබෙහෙත් ඒකාධිකාරය ලබාගැනීම.
- ඒකීය නීති ක්‍රමයක් ඇති කිරීම, රදළ බලය මර්දනය හා පාලන බලතල සංකේන්ද්‍රගත කරගැනීම.
- දේශගවේෂණ කටයුතුවලට අනුග්‍රහ දැක්වීම (ක්‍රිස්ටෝෆර් කොළම්බස්) හා එමගින් දකුණු සහ මධ්‍යම අමෙරිකාවේ අත්පත් කරගත් යටත්විජිත හේතුකොටගෙන රන්-රිදී ආදිය ස්පාඤ්ඤයට රැගෙන ඒම සිදුවීම (සහරන්වාදය).
- වෙළෙඳාම පුළුල් කිරීම මගින් ආර්ථික වර්ධනය ඇතිකිරීම.
- විවාහ සම්බන්ධතා මගින් බලවත් රාජ්‍යයක් බවට පත්කරගැනීම

❖ V චාල්ස් අධිරාජයාගේ සමය

- 1516 - ස්පාඤ්ඤ පාලකයා වීම.
- 1519 - ස්පාඤ්ඤ කැරැල්ල මර්දනය කොට බලය තහවුරු කරගැනීම හා ශුද්ධ රෝම අධිරජ තනතුර හිමිවීම.
- මව්පිය දෙපාර්ශවයෙන්ම විශාල අධිරාජ්‍යයක් උරුම කරගැනීම - ඔස්ට්‍රියාවෙන් හා ජර්මනියෙන් ෆ්ලාන්ඩර්ස්, බර්ගන්ඩි, ලක්සම්බර්ග් ද ස්පාඤ්ඤයද ඉතාලි ප්‍රදේශ වූ සාර්ඩිනියා, නේපල්ස් හා සිසිලි ප්‍රදේශද හිමිවීම.
- ස්පාඤ්ඤ නෙදර්ලන්තයෙන් කොටසක් හිමිවීම.
- රදළ බලය මර්දනය කිරීම හා හමුදාව ශක්තිමත් කිරීම.
- දේශගවේෂණ කටයුතුවලට අනුග්‍රහ දැක්වීම මගින් 1519 දී මෙක්සිකෝව, 1524-26 අතර මධ්‍යම අමෙරිකාවේ ගොතමාලා, නිකරගුවා හා හොන්ඩුරාස් ප්‍රදේශ ආදී ප්‍රදේශ අත්පත් කරගැනීම. 1535 පමණ වනවිට පිසාරෝගේ දායකත්වයෙන් පේරු, කොළොම්බියා, අයර්ස්, බුවෙනෝස් යන ප්‍රදේශ අත්පත් කරගැනීම.
- 1526 දී මැඩ්රිඩ් ගිවිසුම මගින් මිලාන්, නේපල්ස්, බර්ගන්ඩි යන ප්‍රදේශ ඈඳාගැනීම.
- 1547 දී තුර්කි අධිරාජයා සමග පස් අවුරුදු සාම ගිවිසුම අත්සන් තැබීම.
- මෙලෙස 16 වන සියවසේදී ස්පාඤ්ඤය යුරෝපයේ බලවත්ම ජාතික රාජ්‍යය බවට පත් කිරීම (ස්පාඤ්ඤයේ ස්වර්ණමය යුගය සේ සැලකේ)

එංගලන්තය

❖ VII හෙන්රිගේ පාලන සමයෑ
- ලැන්කැස්ට්‍රියන් වාංශික මේ රජු, 1485 දී 'රෝස යුද්ධයෙන්' ජයග්‍රහණය කරනු ලැබ, ටියුඩර් නම් වූ නව රාජවංශය ආරම්භ කරමින් සිහසුනට පත්වීම.
- යෝර්ක් වාංශික එළිසබෙත් කුමරිය හා විවාහවීමෙන් ලැන්කැස්ට්‍රියන්-යෝර්ක් සම්බන්ධතා වර්ධනය කරගැනීම.
- 1487 දී ලැම්බට් සිම්නල්ගේ කැරැල්ලත් 1492 දී පර්කින් වෝකේක්ගේ කැරැල්ලත් මැඩලීම.
- පෞද්ගලික නිලකාරකම් හා නිල ලාංඡන (වළහා, සුදු සිංහයා, දීප්තිමත් තාරකාව) අහෝසි කිරීම.
- ස්ටාර් චේම්බර් අධිකරණය පිහිටුවීම.
- මධ්‍යම පංතියේ සහයෝගය ලබාගැනීම හා පරිපාලන යාන්ත්‍රණය ශක්තිමත් කිරීම.
- නවීන අවිආයුධවලින් සන්නද්ධ නාවික හමුදාවක් සංවිධානය කිරීම.
- වෙළඳාම පුළුල් කිරීම.
- ජොන් කැබෝට හා සෙබස්කතියන් කැබෝට දේශගවේශණ සඳහා අනුග්‍රහ දැක්වීම.
- කෘෂිකර්මාන්තය ව්‍යාප්ත කිරීම.

❖ VIII හෙන්රිගේ පාලන සමයෑ
- පාප්වරයාගේ ආධිපත්‍යයෙන් ඉවත්වීම හා ආගම දේශපාලන බලයට යටත් කිරීම.
- පාර්ලිමේන්තුවේ සහයෝගය තහවුරු කරගැනීම.
- ශක්තිමත් ආර්ථිකයක් ගොඩනැගීම.
- විවාහ සම්බන්ධතා මගින් බල ව්‍යාප්තිය (ස්පාඤ්ඤයේ කැතරින් සහ ප්‍රංශයේ ඈන් බොලීන්).

❖ I එළිසබෙත් රැජිණගේ පාලන සමයෑ
- නාවික හමුදාව තරකිරීම සහ එතෙක් අපරාජිත යයි සැලකුණු ස්පාඤ්ඤ ආමඩාව පරාජය කිරීම.
- ආගමික වශයෙන් මධ්‍යස්ථ ප්‍රතිපත්තියක් අනුගමනය කිරීම.
- පාර්ලිමේන්තුවේ සහයෝගය තහවුරු කරගැනීම.
- වෙළෙඳාම දියුණු කිරීම.

**(ලකුණු 10 යි)**

(4) 'ප්‍රංශ විප්ලවය නූතන යුරෝපය හැඩගැස්වීමෙහිලා තීරණාත්මක අවධියක් සලකුණු කරයි.'

**(i) ප්‍රංශ විප්ලවයේ ආරම්භයේදී පහර දී බිඳ හෙලන ලද බන්ධනාගාරය නම් කරන්න.**

**(ලකුණු 01 යි)**

බැස්ටිල් බලකොටුව / බන්ධනාගාරය

**(ii) ප්‍රංශ විප්ලවයේ නායකයන් දෙදෙනෙකු නම් කරන්න.**

අබේ සියෙස්, ලෆායට්, මිරාබෝ, ඩැන්ටන්, රොබෙස්පියර්, මරා(ත්)

**(ලකුණු 02 යි)**

**(iii) ප්‍රංශ විප්ලවයේ ප්‍රධාන අවස්ථා සැකෙවින් දක්වන්න.**

- ❖ මධ්‍යස්ථ අවධිය (1789-1791):
  එස්ටේට්ස් ජෙනරාල් සභාව කැඳවීම, ජාතික සභාව පිහිටුවීම, ටෙනිස් පිටියේ දිවුරුම, බැස්ටීලයට පහරදීම, මිනිස් අයිතිවාසිකම් ප්‍රකාශය ප්‍රකාශයට පත්කිරීම, 1791 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව මගින් ව්‍යවස්ථානුකූල රාජාණ්ඩුවක් පිහිටුවීම.
- ❖ රැඩිකල් අවධිය (1792-1794):
  ගිරොන්ඩින්වරු බලයට පත්වීම, 1792 අප්‍රේල් මස ඔස්ට්‍රියාවට එරෙහිව යුධ ප්‍රකාශ කිරීම, 1792 සැප්තැම්බර් රාජාණ්ඩුව අහෝසිකොට සමූහාණ්ඩුව/ජනරජය පිහිටුවීම, XVI ලුවී රජු හා බිසව ඇතුළු පවුලේ සාමාජිකයන් කිහිප දෙනෙකු මරණ දණ්ඩනයට කැප කිරීම, 1793 ජූනි මස ජැකොබින්වරුන් බලයට පත්වීම ('භීම සමය' ආරම්භ වීම).
- ❖ 1795 අධ්‍යක්ෂ මණ්ඩල පාලනය (ඩිරෙක්ටරි ආණ්ඩුව).
- ❖ 1799 නැපෝලියන් බලයට පත්වීම.

**(ලකුණු 04 යි)**

**(iv) ප්‍රංශ විප්ලවයෙන් උද්ගත වූ ප්‍රතිඵල කෙරෙහි විශේෂ අවධානය යොමු කරමින් එම විප්ලවය නූතන යුරෝපය හැඩගැස්වීමෙහිලා තීරණාත්මක අවධියක් සලකුණු කරන අයුරු පරීක්ෂා කරන්න.**

පහත සඳහන් අංශ කෙරෙහි විශේෂ අවධානය යොමු කරමින් ප්‍රංශ විප්ලවය ප්‍රංශය මෙන්ම සෙසු යුරෝපා රටවල ඉතිහාසය හැඩගැස්වීමට බලපෑ අන්දම සාකච්ඡා කිරීම පිළිතුරෙන් අපේක්ෂා කෙරේ.

- ❖ ඒකාධිපති රාජාණ්ඩු ක්‍රමය බිඳවැටීම (ආදී තන්ත්‍රය).
- ❖ ප්‍රංශයේ එතෙක් බලපැවැති වැඩවසම් ශේෂ අහෝසි වීම.
- ❖ රදළ හා පූජක බලය දුර්වල වීම.
- ❖ ගොවීන්ට නිදහස සහ ඉඩම් හිමිවීම.
- ❖ මධ්‍යම පාංතිකයන් දේශපාලන, ආර්ථික හා සමාජ වරප්‍රසාද හිමි කරගැනීම.
- ❖ ව්‍යවස්ථානුකූල රාජාණ්ඩුක්‍රමයකට මගපෑදීම.
- ❖ මිනිස් අයිතිවාසිකම් පිළිබඳ ප්‍රකාශය එළිදැක්වීම.
- ❖ 'නිදහස, සමානාත්මතාව හා සහෝදරත්වය' යන විප්ලවයේ සටන් පාඨය සහ ප්‍රංශ විප්ලවයේ අදහස් ප්‍රචලිත වී යුරෝපය පුරා ජාතිකවාදී සහ ලිබරල්වාදී ව්‍යාපාර මතුවීම.
- ❖ නැපෝලියානු යුගය බිහිවීම.

**(ලකුණු 09 යි)**

(5) පහත සඳහන් මාතෘකා අතුරෙන් ඕනෑම දෙකක ඓතිහාසික වැදගත්කම පිළිබඳව කෙටි සටහන් ලියන්න.

(i) රෝම අධිරාජ්‍යය තුළ කිතු දහම ව්‍යාප්තිය හා එහි ජයග්‍රහණය
(ii) වැඩවසම් ක්‍රමයේ පිරිහීම
(iii) මාටින් ලූතර්
(iv) 1688-1689 ඉංග්‍රීසි විප්ලවය *(ලකුණු 08 x2 = 16 යි)*

(i) රෝම අධිරාජ්‍යය තුළ කිතු දහම ව්‍යාප්තිය හා එහි ජයග්‍රහණය

- පුරාණ ග්‍රීසියේ මෙන්ම මුල්කාලීන රෝමයේත් පැවතියේ බහුදේවවාදයකි. එම ආගමික වාතාවරණය තුළින් ක්‍රි.ව. පළමුවන සියවස ආරම්භයේදී රෝම අධිරාජ්‍යය තුළට කිතු දහම පිවිසීම.
- ක්‍රි.ව. 1 දී යුදෙව් ජාතිකයෙකු ලෙස උපන් ජේසුස් වහන්සේ, වයස අවුරුදු 26 දී ජෝන් බැප්ටිස්ට් විසින් බෞතීස්ම කිරීම.
- ජේසුස් වහන්සේ නව ධර්මයක් දේශනා කිරීම හා යුදෙව්වන් අතුරින් පිරිසක් එතුමන් සිය 'ගැලවුම්කරුවා' ලෙස සලකා එම ධර්මය වැළඳ ගැනීම කිතු දහමේ ආරම්භය ලෙස සැලකිය හැකිය.
- මුල්ම අවධියේදී මෙම ආගමට රෝම පාලකයන්ගෙන් විරෝධයක් එල්ල නොවීම.
- මෙම ආගම විශේෂයෙන් පීඩිත ජනතාව (වහලුන් ඇතුළුව) අතර වඩාත් ප්‍රචලිත වීම හා එය ඒකදේවවාදයක් වීම හේතුකොටගෙන රෝම පාලකයන්ගේ විරෝධය ඊට එල්ලවීම හා එම විරෝධය කිතුණුවන් මර්දනය කිරීමක් දක්වා වර්ධනය වීම.
- මුලදී ප්‍රාදේශීය පාලකයන්/ආණ්ඩුකාරවරුන් මෙකී මර්දනය දියත් කළ අතර පසුව එය රෝමයේ අධිරාජයා විසින්ම ක්‍රියාත්මක කිරීම (සෙප්ටිමියස් සෙවරුස්, ඩේසියස්, වැලේරියන්, ඩයක්ලීෂියන්).
- මෙම මර්දනය නොතකා කිතු දහම නව තවත් ජනතාව අතර ව්‍යාප්ත වීමත් ජේසුස් වහන්සේගේ අනුගාමිකයන් හා ආගම ප්‍රචාරකයන් දිවි දෙවෙනකොට ආගම් ප්‍රචාරයෙහි නිරතවීමත් හේතුකොටගෙන එය මර්දනය කළ නොහැකි බව රෝම පාලකයන්ට අවබෝධ වීම. එමෙන්ම, මර්දනයට වඩා මෙම ආගමට අනුග්‍රහ දැක්වීම ස්වකීය *(ලකුණු 08 යි)*

(ii) වැඩවසම් ක්‍රමයේ පිරිහීම

වැඩවසම් ක්‍රමය යනු කවරේදැයි ඉතාම කෙටියෙන් හඳුන්වාදී තිබීම වැදගත් - මධ්‍යතන යුගයේ යුරෝපයේ පැවති සමාජ-ආර්ථික හා දේශපාලන ක්‍රමය 'වැඩවසම් ක්‍රමය' නමින් හඳුන්වනු ලැබේ. 15 හා 16 සියවස්වල එම ක්‍රමය පරිහානියට පත්වීම ආරම්භ විය.
ඒ සඳහා හේතු ගණනාවක් බලපෑවේය:

- කුරුස යුද්ධ සඳහා යුරෝපීයයන් සහභාගී වීමේ අතුරු ඵලයක් ලෙස වෙළෙඳාම වර්ධනය වීම.
- ඇතැම් බණ්ඩාරගම් අතිරික්තයක් නිෂ්පාදනය කිරීමට පෙළඹීම හා ස්වයංපෝෂිත ලක්ෂණ දුර්වල වීම.
- මුදල් භාවිතය පැතිරයාම හා වාණිජ මධ්‍යම පන්තියේ නැගීම ('වැඩවසම් ක්‍රමය මුදල් විසින් දිය කර හරිනු ලැබුවේය' යන අදහස).
- නගර බිහිවීම
- ජාතික රාජ්‍යවල නැගීම.
- මහාමාරිය වසංගතය *(ලකුණු 08 යි)*

**(iii) මාටින් ලූතර්**

- 1483 දී ජර්මානු ප්‍රදේශයක් වන තියුරිංජියාවේ එයිස්ලබෙන්හි උපත ලැබීය.
- නීතිඥයෙකු වූ පියාට මොහු නීති වෘත්තියට යොමු කිරීමට අවශ්‍ය වුවත් භක්තිමත් කිතුණු කාන්තාවක වූ මවගේ ආභාසය හේතුකොටගෙන මොහු ආගමික අංශයට වඩාත් නැඹුරු වූයේය.
- 1511 - විටෙන්බර්ග් විශ්වවිද්‍යාලයේ දේවධර්මය පිළිබඳ කථිකාචාර්යවරයෙකු වශයෙන් පත්වීම. එවකට කතෝලික පල්ලියේ / සභාවේ දූෂිත ක්‍රියාකාරකම් ප්‍රශ්න කිරීම හා 1517 දී 'පුණ්‍ය ඵල පත්‍රිකා අලෙවි කිරීමේ සිද්ධිය' දැඩි විවේචනයට ලක් කිරීම.
- 1517 - කරුණු 95 කින් සමන්විත විවේචනාත්මක ලියවිල්ලක් විටෙන්බර්ග් දේවස්ථානයේ දොරටුවේ ඇලවීමත් සමග මොහුගේ ආගමික ප්‍රතිසංස්කරණවාදී ක්‍රියාකාරකම්වල ක්‍රියාකාරී අවධිය ආරම්භ වීම.
- පල්ලියේ උදහස මොහුට එල්ලවෙද්දී සැක්සනියේ පාලක ෆෙඩ්රික් ඇතුළු ජර්මානු කුමාර පාලකයන්ගේ සහයෝගය හා ආරක්ෂාව මොහුට හිමිවීම (ලූතර්වාදය ප්‍රචලිතවීම).
- 1520 - කතෝලික සභාව ලූතර්වාදය පිටුදකිමින් මොහු මිසදිටුවෙකු යයි ප්‍රකාශයට පත් කිරීම.
- 1521 - ශුද්ධ රෝම අධිරාජයා විසින් මොහු වර්ම්ස්හි ඩයට් සභාව ඉදිරියට කැඳවා සිය ලබ්ධිය අත්හරින ලෙස කරන ලද නියෝගය මොහු විසින් ප්‍රතික්ෂේප කිරීම.
- ස්විට්සර්ලන්තයට පලායාම. බයිබලය ජර්මානු බසට පරිවර්තනය කොට පිටපත් බෙදාහැරීම.
- ලූතර්වාදය ජර්මානු ප්‍රදේශ පුරා ව්‍යාප්ත වීම හා මොහු ප්‍රොතෙස්තාන්ත ව්‍යාපාරයේ නායකත්වය ගැනීම.

**(ලකුණු 08 යි)**

(iv) 1688-1689 ඉංග්‍රීසි විප්ලවය

- රජු හා පාර්ලිමේන්තුව අතර බලය සඳහා වූ අරගලය.
- ස්ටුවර්ට් වංශික රජවරුන්, රජුගේ බලය වර්ධනය කරගැනීමට පාර්ලිමේන්තුව නොතකාහැර කටයුතු කිරීම.
- කතෝලිකයන් වූ ස්ටුවර්ට් රජවරුන් හා රෙපරමාදු භක්තික පාර්ලිමේන්තුවාදීන් අතර ආගමික ප්‍රතිවිරෝධතා ඇතිවීම.
- පසුබිම:
  - 1642 සිවිල් යුද්ධය
  - 1649 පළමුවන චාල්ස් රජුගේ හිස ගසා දැමීම
  - දෙවන චාල්ස් රජවීම හා ඔහුගේ අත්තනෝමතික පාලනය
  - 1688 විප්ලවය
- ප්‍රතිඵල:
  - පාර්ලිමේන්තුවේ අයිතිවාසිකම් තහවුරුවීම.
  - රජුගේ බලය සීමාවීම.
  - 1689 අයිතිවාසිකම් පනත

**(ලකුණු 08 යි)**

## C කොටස

**(6) (i) වියනා සම්මේලනය රැස් වූ පසුබිම විස්තර කරන්න.**

**(ii) වියනා සම්මේලනය විසින් ගන්නා ලද ප්‍රධාන තීරණ ඇසුරෙන් එම සම්මේලනය යුරෝපයේ දේශපාලන ස්ථාවරත්වය යළි පිහිට වූ අන්දම පරීක්ෂා කරන්න.**

**(i) වියනා සම්මේලනය රැස් වූ පසුබිම**

- ❖ ප්‍රංශ විප්ලවය ආරම්භ වූ සමයේ සිටම සෙසු යුරෝපා රටවලින් එල්ල වූ විරෝධය නිසා ප්‍රංශය හා අනෙකුත් යුරෝපා රටවල් අතර යුද්ධ ඇතිවීමට මඟපෑදීම හා එහිදී ප්‍රංශ විරෝධී සටන් සන්ධාන ඇතිවීම.
- ❖ නැපෝලියන් බලයට පත් වූ පසු එම විරෝධය උත්සන්න වීම හා යුරෝපා බලවතුන්ගේ මූලිකත්වයෙන් නැපෝලියන් විරෝධී සන්ධාන දිගින් දිගටම බිහිවීම.
- ❖ එසේ බිහි කරගත් මුල් සන්ධාන තුනේම මෙහෙවර අසාර්ථක වුවත් සිව්වන සන්ධානය නැපෝලියන් පරාජය කිරීමට සමත් වීම (ලිප්සිග් සටන හා නැපෝලියන් පිටුවහල් කිරීම).
- ❖ 1814 දී වියනාවට රැස් වූ යුරෝපා ජාතීන් නැපෝලියන් විසින් අවුල් කරන ලදැයි සැලකුණ යුරෝපා දේශපාලන සිතියම නැවත සකස් කරනු පිණිස සාකච්ඡා පැවැත්වීම හා වියනා සම්මේලනයේ ආරම්භය.
- ❖ නැපෝලියන් පෙරලා පැමිණීම හා ඉහත කී සන්ධාන එවර නැපෝලියන්ගේ බලය මුළුමනින්ම බිඳදැමීම (වෝටර්ලූ සටන) හා වියනාවේ සම්මේලනය දිගටම පැවතීම.
- ❖ 1815 - වියනා සමථය අත්සන් තැබීම. ***(ලකුණු 06 යි)***

**(ii) වියනා සම්මේලනය විසින් ගන්නා ලද ප්‍රධාන තීරණ ඇසුරෙන් එම සම්මේලනය යුරෝපයේ දේශපාලන ස්ථාවරත්වය යළි පිහිට වූ අන්දම**

- ❖ යුරෝපයේ අනෙකුත් රටවල් සම්බන්ධයෙන්ද තීරණ ගැනීම හා එමගින් එක් රටකට බලවත් වීමට ඉඩ නොතැබීම යන පදනම මත පිහිටා පැරණි රාජවංශ නැවත ශක්තිමත් කිරීම (නිත්‍යානුකූලවාදය)፡
  - ♦ ප්‍රංශයේ දේශසීමා, 1789 ට පෙර පැවති තත්ත්වයට ගෙන ඒම. බූර්බෝන් රාජවංශය යළි බලයේ පිහිටුවීම.
  - ♦ පෙර පැවති 360 කට අධික රාජ්‍ය කොටස් සංඛ්‍යාව වෙනුවට ජර්මනිය තුළ රාජ්‍ය කොටස් 39 ක් ඇති කිරීම. ජර්මන් සංයුක්තය පිහිටුවීම හා එහි නායකත්වය ඔස්ට්‍රියාවට ලබාදීම.
  - ♦ ජර්මානු ප්‍රදේශ තුළ ඔස්ට්‍රියාව හා ප්‍රෂියාව අතර බලසමතුලිතතාවක් ඇති කිරීම. ඔස්ට්‍රියාවට ලොම්බාර්ඩි හා වෙනීෂියා ලබාදීම හා ප්‍රෂියාවට අමතර ප්‍රදේශ ලබාදීම.
  - ♦ ඉතාලිය - නිත්‍යානුකූලවාදය තදින්ම ක්‍රියාත්මක වූයේ ඉතාලියේය፡ ලොම්බාර්ඩිය, වෙනීෂියාව, පීඩ්මොන්ට්-සාර්ඩිනියා, පර්මා, මොඩීනා, ටස්කනි, පාප් රාජ්‍යය, නේපල්ස් හා සිසිලි යනුවෙන් ඉතාලිය කොටස් කර ඒවායේ පැරණි රාජවංශ යළි පිහිටුවීම.
  - ♦ 1815 සිට ඉදිරියට දිගුකලක් යුරෝපය තුළ සාමය ආරක්ෂා කරගැනීමට සමත්වීම (1854/56 ක්‍රිමියානු යුද්ධය තෙක් කිසිදු කැපී පෙනෙන යුද්ධයක් ඇති නොවීම; ඉන්පසුවද පළමුවන ලෝක යුද්ධය ඇතිවන තුරු බලවත් ජාතීන් සම්බන්ධ වූ යුද්ධයක් ඇති නොවීම).
  - ♦ සමුළුවක් මගින් යුරෝපා රටවල් අතර හටගන්නා අර්බුද විසඳාගැනීමේ ක්‍රමයකට මුලපිරීම. (සමුළු ක්‍රමය). ***(ලකුණු 10 යි)***

(7) 'මිත්‍ර සන්ධාන ගිවිසුම් ක්‍රමය හා යුරෝපය සන්නද්ධ කඳවුරු දෙකකට බෙදීම, පළමුවන ලෝක යුද්ධය ඇතිවීම නොවැළැක්විය හැක්කක් බවට පත් කළේ ය.'

**(i) මිත්‍ර සන්ධාන ගිවිසුම් ක්‍රමය ආරම්භ කළේ කවුද?**

ඔටෝ ෆන් බිස්මාක් / ජර්මනිය **(ලකුණු 01 යි)**

**(ii) පළමුවන ලෝක යුද්ධය ඇතිවීමට තුඩු දුන් ආසන්නතම සිද්ධිය කුමක් ද?**

ඔස්ට්‍රියාවේ ඔටුන්න හිමි කුමරු වූ ෆ්‍රාන්ස් ෆර්ඩිනන්ඩ් හා එම ආර්යාව බොස්නියා-හර්සගොවිනාහී සංචාරයක යෙදෙන අතරතුර එහි අගනුවර වූ සරායේවෝහිදී සර්බියානු ත්‍රස්ත කණ්ඩායමක සාමාජිකයෙකු (ගව්රිලෝ ප්‍රින්සිප්) විසින් ඝාතනය කිරීම. **(ලකුණු 01 යි)**

**(iii) පළමුවන ලෝක යුද්ධය ආරම්භ වන විට ප්‍රධාන යුරෝපා බලවතුන් කඳවුරු දෙකකට බෙදී සිටි ආකාරය පැහැදිලි කරන්න.**

❖ බිස්මාක්ගේ රජෝපාය ප්‍රතිපත්තිය අනුව ජර්මනියේ ආරක්ෂාව හා ජර්මනිය යුරෝපයේ බලවත් රාජ්‍යයක් බවට පත්කර ගැනීම සඳහා අනුගමනය කරන ලද ගිවිසුම් ක්‍රමය.
❖ ඇල්සාස්-ලොරේන් ප්‍රශ්නය මත ප්‍රංශය තනිකිරීමේ අභිලාෂයෙන් බිස්මාක් ආරම්භ කළ එම ගිවිසුම් ක්‍රමය අනුව යුරෝපයේ ප්‍රබල රටවල් පිල් දෙකකට බෙදී යාම.
❖ 1873 දී ජර්මනිය, ඔස්ට්‍රියාව හා රුසියාව සමග එක්වී අධිරාජයන් තිදෙනාගේ සංගමය පිහිටුවීම.
❖ පසුව ජර්මනිය විසින් රුසියාව සමග පැවති ගිවිසුම අලුත් නොකිරීම.
❖ 1879 දී ජර්මනිය ඔස්ට්‍රියානු-හංගේරියානු අධිරාජ්‍යය සමග ද්විත්ව සන්ධානයකට එළඹීම.
❖ 1882 දී ඉතාලිය ද්විත්ව සන්ධානයට එකතු කරගනිමින් ත්‍රෛපාක්ෂික මිත්‍රත්වයක් ගොඩනැගීම.
❖ 1794 දී රුසියාව, ප්‍රංශය සමග මිත්‍ර සන්ධානයකට එළඹීම.
❖ 1904 දී ප්‍රංශය බ්‍රිතාන්‍යය සමග මිත්‍ර ගිවිසුමකට එළඹීම.
❖ 1907 දී රුසියාව ප්‍රංශ-බ්‍රිතාන්‍ය හවුලට එක්වීමෙන් ත්‍රෛයිපාක්ෂික මිත්‍ර සන්ධානය බිහිවීම. **(ලකුණු 04 යි)**

**(iv) මිත්‍ර සන්ධාන ගිවිසුම් ක්‍රමය හා යුරෝපය කඳවුරු දෙකකට බෙදීම පළමුවන ලෝක යුද්ධය ඇතිවීමට කෙතෙක් දුරට හේතු වී දැයි පරීක්ෂා කරන්න.**

❖ නව අධිරාජ්‍යවාදය හේතුකොටගෙන යුරෝපා ජාතීන් අතර හටගෙන තිබූ යටත්විජිත තරඟය.
❖ ප්‍රංශ-ජර්මන් වෛරය.
❖ ජර්මනිය බලවත් රටක් ලෙස නැගී ඒම හා ජර්මන් විදේශ ප්‍රතිපත්තිය.
❖ ජර්මනිය හා එංගලන්තය අතර පැවති නාවික තරඟය.
❖ අවි තරඟය.
❖ ජාතිකවාදය නැගී ඒම.
❖ බෝල්කන් අර්බුදය

පළමුවන ලෝක යුද්ධය ඇතිවීමට තුඩුදුන් මෙම සාධකද සැලකිල්ලට ගනිමින් යුරෝපය බල කඳවුරු දෙකකට බෙදී යාම මෙම යුද්ධය ඇතිවීමට කෙතෙක්දුරට හේතුවිදැයි යන්න පරීක්ෂා කළ යුතුය. **(ලකුණු 10 යි)**

**(8) 1962 තෙක් ශීත යුද්ධය යුරෝපයේ දේශපාලනය කෙරෙහි බලපෑ ආකාරය විමසන්න.**

❖ ශීත (නිරවි) යුද්ධය යනු විශේෂයෙන් දෙවන ලෝක යුද්ධයෙන් පසු අමරිකා එක්සත් ජනපදය ප්‍රධාන කොටගත් බටහිර (ධනවාදී) කඳවුර හා සෝවියට් දේශය ප්‍රධාන කොටගත් නැගෙනහිර යුරෝපා රටවල්වලින් යුත් (සමාජවාදී) කඳවුර අතර ඇති වූ දෘෂ්ටිවාදීමය, දේශපාලන හා රාජ්‍ය තාන්ත්‍රික ගැටුමයි.

❖ මෙහි ආරම්භය හා පැවති කාලය සම්බන්ධයෙන් විවිධ මත පැවතුන ද බොහෝ විද්වත්හු මෙය 1945 සිට 1991 දක්වා පැවතුණැයි සලකති.

<u>නිරවි යුද්ධය යුරෝපා දේශපාලනයට බලපෑ අන්දම</u>

- අමෙරිකා එක්සත් ජනපදය හා සෝවියට් රුසියාව එකිනෙකාට විරුද්ධව විවෘත ලෙස යුද්ධ නොකළ නමුත් කඳවුරු දෙක අතර පැවති අවිශ්වාසය ගැටුමක් දක්වා වර්ධනය වීමේ නිරන්තර අනතුර පැවතීම.
- සෝවියට් රුසියාව, කොමියුනිස්ට්වාදය ලොව පුරා ව්‍යාප්ත කිරීමට උත්සාහගන්නා බවට චෝදනා කළ අමෙරිකාව එහි ව්‍යාප්තිය වළකාලීමේ ප්‍රතිපත්තියකට (containment policy) අවතීර්ණ වීම.
- යුරෝපය තුළ කොමියුනිස්ට් බලය දුර්වල කිරීමට අමෙරිකාව විවිධ පියවර ගැනීම:
  - ✓ ග්‍රීක සිවිල් අරගලය වැනි අවස්ථාවලට මැදිහත් වීම.
  - ✓ ට්‍රූමන් න්‍යාය - ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යයන්ට ඒකාධිපති රාජ්‍ය විසින් එල්ල කරනු ලබන ප්‍රහාරයකදී අමෙරිකාව ඔවුන් වෙනුවෙන් ඉදිරිපත් වීම.
  - ✓ මාර්ෂල් සැලැස්ම - යුද්ධයෙන් බිඳවැටී තිබූ යුරෝපා රටවල ආර්ථිකය ගොඩනැංවීමට ඇමරිකාවේ ආධාරදීමේ සැලැස්ම.

    එංගලන්තය, ප්‍රංශය, ජර්මනිය, ඉතාලිය වැනි රටවල් එම ආධාර ලබාගෙන තම රටවල් දියුණු කිරීම.
    (සෝවියට් කඳවුරේ රටවලට එම ආධාර ලබාගැනීම ස්ටාලින් තහනම් කළේය.)
- එකිනෙකා අතර පැවති අවිශ්වාසය නිසා එකිනෙකාගේ ආරක්ෂාව උදෙසා යුරෝපා රටවල් යුධ සංවිධාන යටතේ සංවිධානය වීම - බටහිර කඳවුරේ NATO සංවිධානයට එරෙහිව නැගෙනහිර කඳවුරෙන් WARSAW සංවිධානය පිහිටුවීම.
- සෝවියට් කඳවුරේ දේශපාලන බලය ශක්තිමත් කිරීම සඳහා සෝවියට් රුසියාවද ක්‍රියාත්මක වීම - කොමින්ෆෝම්.

- වරින් වර කඳවුරු දෙකට අයත් රටවල් අතර ඇති වූ සටන් හැරුණු විට වෙනත් ක්‍රම මගින්ද තුණ්ණී යුද්ධය ක්‍රියාත්මක විම.

  දේශපාලන හා ආර්ථික මතවාද පදනම් කරගත් අන්‍යොන්‍ය විවේචනය මුල් කොටගත් ප්‍රචාරණය; කඳවුරු තුළ දේශපාලන සම්බන්ධතා වර්ධනය කර ගැනීම; රහස් ඔත්තු සේවා මගින් සතුරු පක්ෂය පිළිබඳ තොරතුරු (විශේෂයෙන් යුද්ධෝපක්‍රම හා උපායන් පිළිබඳ තොරතුරු) එක්රැස්කිරීම; අමෙරිකාව හා රුසියාව අතර තාක්ෂණික අවි ඇතුළු අවි තරගය (පරමාණු, ජලකර, මිසයිල, ගුවන්යානා, චන්ද්‍රිකා තාක්ෂණය)

- යුරෝපයෙන් පිටත රටවල ඇති වූ අරගලවලට කඳවුරු දෙකේ රටවල් මැදිහත් වීම.

  1948-58 - බර්ලින් අර්බුදය
  1950 - කොරියන් අර්බුදය
  1956 - හංගේරියානු අර්බුදය
  1960 ඇරඹි කොංගෝ අර්බුදය
  1962 - කියුබන් මිසයිල අර්බුද

**(ලකුණු 16 යි)**

**(9) පහත සඳහන් මාතෘකා අතුරෙන් ඕනෑම <u>දෙකක</u> ඓතිහාසික වැදගත්කම පිළිබඳව කෙටි සටහන් ලියන්න.**

(i) සම්මේලන ක්‍රමය
(ii) ෆ්‍රෑන්ක්ෆර්ට් පාර්ලිමේන්තුව
(iii) ජාතීන්ගේ සංගමය
(iv) ඇඩොල්ෆ් හිට්ලර්

*(ලකුණු 08×2 = 16 යි)*

(i) සම්මේලන ක්‍රමය

- 1815 වියනා සම්මුතියෙන් ඇතිකොටගත් යුරෝපා සාමය පවත්වාගෙන යාම සඳහා මෙම ක්‍රමය ආරම්භ කිරීම.
- ඔස්ට්‍රියාව, රුසියාව, ප්‍රශියාව සහ එංගලන්තය මෙම ක්‍රමයේ ආරම්භක සාමාජිකයෝ වූහ.
- 1818 අයි-ලා-ෂැපෙල්, 1820 ට්‍රොපෝ, 1822 ලයිබැක්, 1822 වෙරෝනා යන සම්මේලනවලදී සමකාලීන යුරෝපයේ විවිධ රටවල මතුව තිබූ කැළඹිලිවලට මැදිහත් වීමට උත්සාහ ගැනීම. උදා: ඉතාලිය, ස්පාඤ්ඤය, ග්‍රීක නිදහස් සටන
- සම්මේලන ක්‍රමය අසාර්ථක වූ නමුත් පසුකාලීනව පළමු හා දෙවන ලෝක යුද්ධවලින් පසුව ජාත්‍යන්තර සංවිධාන පිහිටුවාගැනීමේදී මෙම ක්‍රමය ආදර්ශයට ගැනීම.

**(ලකුණු 08 යි)**

**(ii) ෆ්‍රෑන්ක්ෆර්ට් පාර්ලිමේන්තුව**

- ජර්මනිය එක්සත් කිරීමෙහිලා ජර්මන් ලිබරල්වාදීන් ගන්නා ලද ප්‍රයත්නයක් ලෙස මෙය හැඳින්විය හැකිය.

<u>පසුබිම</u>

- 1815 වියනා සමථය මගින් එතෙක් 363 ක්ව පැවති ජර්මානු රාජ්‍ය 39 ක් වන සේ නැවත බෙදා ජර්මානු සංයුක්තයක් බිහි කෙරිණි. එහි වැඩි ආධිපත්‍යය ඔස්ට්‍රියාව සතු වුවද ප්‍රබල, තනි ජර්මානු රාජ්‍යය වශයෙන් නායකත්වය සඳහා සුදුසුකම් පැවතියේ ප්‍රශියාවටයි.
- ඔහෙත් ඔස්ට්‍රියාවේ අගමැති මෙටර්නික් මෙම රාජ්‍යවල ලිබරල්, ජාතිකවාදී ව්‍යාපාර නැගී ඒම මර්දනයට නිරන්තරව කටයුතු කළේය - 1819 කාල්ස්බාඩ් ආඥා මගින් ජර්මානු විශ්වවිද්‍යාල තුළ පිහිටුවාගෙන තිබූ දේශප්‍රේමී ශිෂ්‍ය සංවිධාන විසුරුවා හැරීම හා පුවත්පත් නිදහස සීමා කිරීම ආදී පියවර ගැනීම. මේ නිසා මෙම ප්‍රදේශවල ලිබරල් හා ජාතිකවාදී ව්‍යාපාර මතු නොවිය.
- කෙසේවෙතත්, 1848දී ලිබරල්වාදීන් ඉදිරිපත්ව ජර්මනිය එක්සත් කිරීමේ උත්සාහයක නිරත විය.
- 1848 විප්ලව මගින් බේඩන්, වුටෙම්බර්ග්, බැවේරියා, සැක්සනි, හැනෝවර් ආදී රාජ්‍යවල ලිබරල් ප්‍රතිසංස්කරණ ඇතිවිය (වැඩවසම් ශේෂ ඉවත් කිරීම; ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ; පුවත්පත් නිදහස වැනි අයිතිවාසිකම් තහවුරු කිරීම).
- 1848 ප්‍රශියාවේ (බර්ලිනයේ) හටගත් ලිබරල් නැගීසිටීම වඩාත් කැපී පෙනිණි. විප්ලවය හේතුකොට ගෙන එහි පාලකයා වූ IV ෆ්‍රෙඩරික් විලියම්ට ලිබරල් පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයකට එකඟවීමට සිදුවිය.

<u>පිහිටුවීම හා අසාර්ථක වීම</u>

- **ෆ්‍රැන්ක්ෆර්ට් පාර්ලිමේන්තුව** සඳහා පදනම වූයේ ජර්මානු රාජ්‍යවල මෙම ලිබරල් ජයග්‍රහණයි.
- සියලු ජර්මානු රාජ්‍ය නියෝජනය කරමින් නියෝජිතයන් 500 ක් ෆ්‍රැන්ක්ෆර්ට් නුවරදී රැස් වූ බැවින් මෙම පාර්ලිමේන්තුවට එම නම ලැබිණි.
- මෙම නියෝජිතයෝ මධ්‍යම පාංතික ලිබරල්වාදීන් වූහ.
- මෙහි ප්‍රධාන අරමුණ එක්සත් ජර්මනියක් නිර්මාණය කරගැනීමයි. එහිලා ඔස්ට්‍රියාව සම්බන්ධ කරගැනීම/නොගැනීම යන කාරණය මත ෆ්‍රැන්ක්ෆර්ට් පාර්ලිමේන්තුව මතවාදීව දෙකඩ විය (මහා ජර්මනිය හා කුඩා ජර්මනිය).
- මෙම මත ගැටුමෙන් අවසානයේ 'කුඩා ජර්මනිය' (ඔස්ට්‍රියාව ඉවත් කොට ජර්මනිය එක්සත් කළ යුතුය) යන මතය ජයගත් අතර ප්‍රශියාවේ රජුගේ නායකත්වයෙන් ජර්මන් සංයුක්තයක් පිහිටුවීමට තීරණය විය.
- කෙසේවෙතත්, ක්ෂණික විප්ලවයකින් හටගත් මේ ලිබරල් ජයග්‍රහණ යටතේ පිහිටුවාගත් ජර්මානු අධිරාජ්‍යයක නායකත්වය ගැනීමට IV ෆ්‍රෙඩරික් විලියම් කැමති වූයේ නැත. ඔහු ඒ වනවිටත් මෙම ලිබරල් ජයග්‍රහණ බිඳදැමීමට අවස්ථාව සොයමින් සිටියේය.
- ෆ්‍රැන්ක්ෆර්ට්හි ජර්මනිය එක්සත් කිරීම පිළිබඳ වාදවිවාද පවත්නා අතරේම 1848 ලිබරල් විප්ලව ජයග්‍රහණය කොට තිබූ ජර්මානු රාජ්‍යවල කුමාර පාලකයෝ නැවත ඒවායේ බලය අල්ලාගන්නට සමත් වූහ.
- IV ෆ්‍රෙඩරික් විලියම් බර්ලිනය මුදාගෙන සෙසු ප්‍රදේශවලද ලිබරල් ආණ්ඩු මර්දනයට ප්‍රශියාවේ ආධාර ලබා දුන්නේය.
- මෙසේ 1848 යුරෝපයේ හටගත් විප්ලව සමයේ ජර්මානු රාජ්‍යවල හටගත් ලිබරල් විප්ලවවල ප්‍රතිඵලයක් ලෙස රැස් වූ ෆ්‍රැන්ක්ෆර්ට් පාර්ලිමේන්තුව වසරක් ගෙවෙන්නට මත්තෙන් අසාර්ථක විය. එහි මූලික අරමුණ වූ එක්සත් ජර්මනියක් උදාකර ගැනීමද ඉටු නොවිණි. ***(ලකුණු 08 යි)***

**(iii) ජාතීන්ගේ සංගමය**

- ❖ පළමුවන ලෝක යුද්ධය අවසානයේ ලෝක සාමය ආරක්ෂා කරගැනීමේ අරමුණ ඇතිව පිහිටුවීම.
- ❖ යුද්ධ සමයේදී, අමෙරිකා එක්සත් ජනපදයේ එවකට ජනාධිපති වුඩ්රෝ විල්සන් ඉදිරිපත් කරන ලද කරුණු 14 කින් යුතු සැලැස්ම මෙම සංවිධානය පිහිටුවීමට පදනම් කරගැනීම.
- ❖ යුද්ධය අවසන අත්සන් තබන ලද පැරිස් සාම ගිවිසුමේ පළමු පරිච්ඡේදයෙන්ම සාමකාමීව ගැටුම් නිරාකරණය කරගැනීම සඳහා වූ ප්‍රබල සංවිධානයක අවශ්‍යතාව අවධාරණය කිරීම.
- ❖ 1919 දී ජිනීවා නුවර මධ්‍යස්ථානකොටගෙන මෙම සංවිධානය පිහිටුවීම.
- ❖ අරමුණ: ලෝක සාමය ආරක්ෂා කිරීම.
- ❖ ව්‍යුහය: මහා මණ්ඩලය, විධායක මණ්ඩලය, මහලේකම් කාර්යාලය, අධිකරණ-කම්කරු-සෞඛ්‍ය-මූල්‍ය ආදී විවිධ අංශ ආවරණය කරනු පිණිස වූ සංවිධාන.
- ❖ අසාර්ථකත්වයට හේතු අතර අමෙරිකා එක්සත් ජනපදය සාමාජිකත්වය ලබා නොගැනීම, සාමාජික රටවල් සංවිධානය නොතකා හරිමින් කටයුතු කිරීම ආදිය දැක්විය හැකි වීම.

**(ලකුණු 08 යි)**

**(iv) ඇඩොල්ෆ් හිට්ලර්**

- ❖ 1889 අප්‍රේල් 20 ඔස්ට්‍රියා-හංගේරියාවේ බොනාවුහි දී ඇලෝයි හිට්ලර් හා ක්ලාරා පොල්සල් යුවලට දාව ඇඩොල්ෆ් හිට්ලර් උපත ලැබුවේය.
- ❖ පවුලේ සෙසු දරුවන්ට වඩා වෙනස් දරුවෙකු යයි කියැවෙන මොහු චිත්‍ර ශිල්පයට ප්‍රිය කළේය. පූජකයෙකු වීමටත් යුධ හමුදාවට බැඳීමටත් ඔහු තුළ පැවති බලාපොරොත්තු ඉටු නොවිණි.
- ❖ ජර්මානු ජාතිය පිළිබඳ දැඩි භක්තියකින් යුතු වූ මොහු නිරතුරුවම ජර්මන් ජාතික ගිය ගායනා කළ බව කියැවේ.
- ❖ 1913 දී ජර්මනියට යන මොහු එහි පුරවැසිකම ලබාගැනීමට හමුදාවට බැඳී, පළමුවන ලෝක යුද්ධයට සහභාගී වූයේය. ජර්මනියට දැඩි හානි පැමිණ වූ වර්සායි ගිවිසුම මොහු තරයේ හෙලා දැක්කේය.
- ❖ 1920 දී සමාජවාදී ජර්මානු කම්කරු පක්ෂය - නාසි පිහිටුවීම.
- ❖ 1921 දී මියුනික් නුවර බලය අල්ලාගැනීමට ගත් ප්‍රයත්නය හේතුකොට ගෙන සිරගත කරනු ලැබූ හිට්ලර් එහිදී 'මගේ සටන' (Mein Kampf) කෘතිය රචනා කළේය.
- ❖ 1933 පාර්ලිමේන්තු මැතිවරණයේ ප්‍රතිඵල මත ජර්මානු චාන්සලර් ධූරයට පත් මොහු, එවකට සිටි ජනාධිපතිවරයාගේ මරණයත් සමගම ජනාධිපති බලතලද සියතට ගත්තේය.
- ❖ පාර්ලිමේන්තුව ගිනි තැබීමට සැලැස් වූ හිට්ලර්, දේශපාලන පක්ෂ තහනම් කොට, SS හමුදාව හා ගෙස්ටපෝ රහස් පොලීසිය යොදවා කොමියුනිස්ට්වාදීන් හා යුදෙව්වන් සංහාරයක නිරතවීම.
- ❖ ජර්මනිය නවීකරණය කිරීමට උනන්දු වූ මොහු ශක්තිමත් ජර්මනියක් නිර්මාණය කිරීම ඉලක්ක කර ගත්තේය.
- ❖ ජර්මනිය තුළ නට්සිවාදය ක්‍රියාත්මක කිරීම.
- ❖ 1939 පෝලන්ත ආක්‍රමණය කරමින් මොහු කටයුතු කළ ආකාරය හේතුකොට ගෙන දෙවන ලෝක සංග්‍රාමය ඇතිවීම.




**(ලකුණු 08 යි)**